අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2021 (2022)
General Certificate of Education (Adv. Level) Examination, 2021 (2022)

නාට්‍ය හා රංග කලාව - සිංහල I
நாடகமும் அரங்கியலும் - சிங்களம் I
Drama and Theatre - Sinhala I

57 S I

## II කොටස

**උපදෙස්:**

* **A** හා **B** කොටස්වලින් ප්‍රශ්න **දෙක** බැගින් තෝරාගෙන, ප්‍රශ්න **හතරකට** පිළිතුරු සපයන්න.

## A කොටස

**1.** (i) සංස්කෘත නාට්‍ය කලාවේ රූපක ප්‍රභේද **හතරක්** නම් කරන්න. (ලකුණු 04 යි.)

(ii) අභිඥානශාකුන්තලය අයත් වන ප්‍රභේදය නම් කොට, එය එකී ප්‍රභේදයට අයත් වීමට හේතු වන ලක්ෂණ පැහැදිලි කරන්න. (ලකුණු 05 යි.)

(iii) අභිඥානශාකුන්තලයේ නායක, නායිකා චරිත පිළිබඳ විග්‍රහයක් කරන්න. (ලකුණු 06 යි.)

**2.** (i) අභිඥානශාකුන්තලයේ අද්භූත රසය මතු වන අවස්ථා **දෙකක්** දක්වන්න. (ලකුණු 02 යි.)

(ii) කතා වස්තුව සමග සම්බන්ධ කරමින් එම අවස්ථා අද්භූත රසය මතු කරන්නේ කෙසේ දැ යි පෙන්වාදෙන්න. (ලකුණු 06 යි.)

(iii) දෙවන අංකය ආරම්භයේ එන විදූෂක ගේ ඒකල භාෂණයේ මතු වන රසය විවරණය කරන්න. (ලකුණු 07 යි.)

**3.** (i) නෝ නාට්‍ය කලාවට අයත් මූලික චරිත වර්ග **පහක්** නම් කරන්න. (ලකුණු 05 යි.)

(ii) නෝ වේදිකා උපකරණ පිළිබඳ විස්තරයක් කරන්න. (ලකුණු 05 යි.)

(iii) නෝ නාට්‍ය කලාවේ වෙස් මුහුණු භාවිතය පිළිබඳ විස්තරයක් කරන්න. (ලකුණු 05 යි.)

## B කොටස

**4.** (i) කුවේණි නාට්‍ය රචකයා ප්‍රතිනිර්මාණය කරන කුවේණිය සහ පුරාවෘත්තයේ එන කුවේණිය අතර වෙනස්කම් **දෙකක්** දක්වන්න. (ලකුණු 04 යි.)

(ii) කුවේණි නාට්‍යයේ පළමුවැනි අංකය අවසානයේ එන

"නොහඬන් කුමරුනි - ඇවිද ළසෝගිනි
එන රජ කුමරිය ඇත එපිට සිට
ඔබ සනහාලයි - දුකඳුර දුරුකොට ..."

ගීතයෙන් නාට්‍යකරුවා ප්‍රතිනිර්මාණය කරන කුවේණිය ගේ චරිතාභ්‍යන්තරය කෙබඳු දැ යි විමර්ශනයක් කරන්න. (ලකුණු 05 යි.)

(iii) කුවේණිය නූතන අධිකරණයකට නැංවීමේ නාට්‍යකරුවාගේ අපේක්ෂාව ඔබ දකින්නේ කෙසේ දැ යි පෙන්වාදෙන්න. (ලකුණු 06 යි.)

5. (i) බෞද්ධ විහාරස්ථාන කේන්ද්‍ර කොටගත් නාට්‍යමය ලක්ෂණ සහිත පූජාකර්ම **හතරක්** නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) ඉහත (i) සඳහා ඔබ දුන් පිළිතුරෙහි ඇතුළත් එක් පූජාකර්මයක අරමුණ, පවත්වන ආකාරය හා නාට්‍යමය ලක්ෂණ විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iii) මෙකී පූජාකර්මවල උපයෝගිතාව, වර්තමාන තත්ත්වය හා ඒවා අධ්‍යයනයෙන් ලැබෙන ඵලය ගැන ඔබේ අදහස් දක්වන්න. (ලකුණු 07 යි)

6. (i) නාට්‍ය විචාරයේ දී සලකා බැලිය යුතු මූලික කරුණු **හයක්** නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) ඉහත (i) ප්‍රශ්නයට ඔබ සැපයූ පිළිතුරු අතුරෙන් මුඛ්‍ය කරුණක් ගෙන එහි වැදගත්කම පහදන්න. (ලකුණු 05 යි)

(iii) **කුවේණි** හෝ **අභිඥානශාකුන්තලය** පිළිබඳ විචාරයක් ලියන්න. (ලකුණු 07 යි)

* * *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2021 (2022)
General Certificate of Education (Adv. Level) Examination, 2021(2022)

නාට්‍ය හා රංග කලාව - සිංහල I
நாடகமும் அரங்கியலும் - சிங்களம் I
Drama and Theatre - Sinhala I

57 S I

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

**විභාග අංකය :** ..........................................

| I කොටස | |
|---|---|
| මුළු ලකුණු | 40 |

**උපදෙස්:**

* I කොටස – **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** සපයා, **II** කොටසේ පිළිතුරු පත්‍රයට අමුණා භාර දෙන්න.
* **II** කොටස – **A** හා **B** කොටස්වලින් ප්‍රශ්න **දෙක** බැගින් තෝරාගෙන, ප්‍රශ්න **හතරකට** පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස

● නිවැරදි පිළිතුර තෝරා, එහි **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**1.** කලාව පිළිබඳ පහත සඳහන් ප්‍රකාශ අතුරෙන් නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) කලාව දෙවියන් ගේ නිර්මාණයකි.
(2) කලාව පිළිබඳ විවිධ නිර්වචන පැවතිය ද පොදු එකඟතාවක් නැත.
(3) කලාව හා ශිල්ප වශයෙන් කෙරෙන වර්ගීකරණයට පදනමක් නැත.
(4) ස්වභාව සෞන්දර්යය හා කලාව යනු එක ම දෙයකි.
(5) සියලු ම කලා මුළුමනින් ම දෘෂ්ටිගෝචර ය. (.........)

**2.** පාරිභෝගික භාණ්ඩවලට කලාත්මක ලක්ෂණ එකතු කරනුයේ,
(1) ලලිත කලාවේ දී ය. (2) ව්‍යවහාරික කලාවේ දී ය. (3) ජනප්‍රිය කලාවේ දී ය.
(4) ගැමි කලාවේ දී ය. (5) ප්‍රාකෘතික කලාවේ දී ය. (.........)

**3.** ප්‍රාසංගික කලාවක ප්‍රේක්ෂකයා හා සෘජු ව සම්බන්ධ වන්නේ කුමක් ද?
(1) චතුර් අභිනය (2) රංගාලෝකය (3) වේෂ භූෂණය
(4) ප්‍රතිචාරය (5) සංගීතය (.........)

**4.** නිෂ්පාදකයකුට නාට්‍ය පෙළක් රංගයක් බවට පත් කිරීමේ දී මග පෙන්වන මූලික අංගය කුමක් ද?
(1) සංවාද (2) අංක සහ ජවනිකා (3) චරිත
(4) භාෂාව (5) රංග විධාන (.........)

**5.** සාත්ත්වික අභිනය අවම වශයෙන් ප්‍රකට කෙරෙන නර්තනය කුමක් ද?
(1) උඩරට (2) පහතරට (3) මණිපුරි
(4) භරත නාට්‍යම් (5) කථක් (.........)

**6.** "සර්වාංගය වෙවුලීම" නම් සාත්ත්වික අභිනය හඳුන්වන සංස්කෘත පදය කුමක් ද?
(1) ස්වේද (2) වේපථු (3) අශ්‍රු (4) පුලය (5) ස්වරභංග (.........)

**7.** ආංගික අභිනයට අයත් **නොවන** අංගය තෝරන්න.
(1) චාරී (2) ස්ථානක (3) අංග රචනා (4) හස්ත (5) කරණ (.........)

**8.** නාට්‍යයක චරිතයක් බාහිර ව සමාරෝප ගැන්වීමේ දී වඩාත් වැදගත් වන්නේ කුමක් ද?
(1) රංග රීතිය (2) අභිනය (3) පසුතලය (4) වේෂභූෂණය (5) රංගාලෝකය (.........)

[දෙවැනි පිටුව බලන්න.

**9.** නාට්‍යයක ප්‍රේක්ෂාව සම්බන්ධ නිවැරදි ප්‍රකාශය කුමක් ද?
(1) නාට්‍ය දර්ශනය පුරා වෙනසට භාජනය වේ.
(2) පසුතල හා රංගෝපකරණ බහුල ව යෙදීම ප්‍රේක්ෂාව යි.
(3) ප්‍රේක්ෂාව වෙනස් වන්නේ නාට්‍යධර්මී සම්ප්‍රදායේ පමණි.
(4) නාට්‍යමය ක්‍රියාවට ප්‍රේක්ෂාවෙන් අනුබලයක් නො ලැබේ.
(5) ප්‍රේක්ෂක ආකර්ෂණය රඳවාගැනීමට හේතු වේ. (.........)

**10.** ලෝකධර්මී නාට්‍යයක පසුතලය වෙනස් කිරීමට බහුල ව යොදන නාට්‍යෝපක්‍රමය වන්නේ,
(1) ආලෝකය නොනිවා පසුතල මාරු කිරීම යි.
(2) සීනුව නාද කිරීම යි.
(3) නළු-නිළියන් සියලු දෙනා වේදිකාවෙන් පිටවීම යි.
(4) තිරය වසා දැමීම යි.
(5) රංගභූමිය අඳුරු කිරීම යි. (.........)

● ප්‍රශ්න අංක **11** සිට **15** දක්වා ප්‍රශ්න සඳහා කරුණු/සංකල්ප/නාම පහක් බැගින් සපයා ඇත. එම කට්ටලයේ ඇති **නොගැළපෙන** පදය තෝරා එහි අංකය ඉදිරියේ ඇති වරහන තුළ ලියන්න.

**11.** (1) වකි (2) ෂිමොතෙ (3) සූර
(4) කශුර (5) කිරි (.........)

**12.** (1) ගිදයු (2) නගඋත (3) තයිකො
(4) නොකිවසු (5) කියොමොතො (.........)

**13.** (1) පද්මකෝෂ (2) අර්ධචන්ද්‍ර (3) ත්‍රිපතාක
(4) අපවාරිත (5) පතාක (.........)

**14.** (1) දිනතර (2) ස්වර්ණතිලකා (3) හරිස්චන්ද්‍ර
(4) රොම්ලින් (5) පරාභව (.........)

**15.** (1) ආලවක දමනය (2) සන්නියකුම (3) පූනාමඩු
(4) රටයකුම (5) කොහොඹා කංකාරිය (.........)

**16.** හරිම බඩු හයක් නාට්‍යය කුමන රංග රීතියකට අයත් ද?
(1) යථාර්ථවාදී (2) සංකේතවාදී (3) ආඛ්‍යාන
(4) අසම්මත (5) ප්‍රකාශනවාදී (.........)

**17.** මූදු පුත්තු නාට්‍යයේ මුල් කෘතිය නිෂ්පාදනය වූ රට කුමක් ද?
(1) ඉතාලිය (2) ඇමෙරිකාව (3) ප්‍රංශය
(4) ජර්මනිය (5) ස්පාඤ්ඤය (.........)

**18.** හෙන්රි ජයසේන ගේ ස්වතන්ත්‍ර නාට්‍ය නිර්මාණය කුමක් ද?
(1) හුණුවටයේ කතාව (2) අපට පුතේ මගක් නැතේ (3) මකරා
(4) පළිඟු රෑන (5) දිරිය මව හා ඇගේ දරුවෝ (.........)

**19.** දීපාවලී උත්සවයේ නරකාසුර හා සටන් කොට ජය ලබන්නේ කුමන දෙවියා ද?
(1) දුර්ගා (2) ශිව (3) විෂ්ණු
(4) ලක්ෂ්මී (5) ස්කන්ද (.........)

**20.** දෙමළ නාට්‍ය ප්‍රභේද අතර රංග කලාප වැඩි සංඛ්‍යාවක ප්‍රචලිත නාට්‍ය ප්‍රභේදය කුමක් ද?
(1) මකීඩ් (2) තෙන්මෝඩි (3) වඩමෝඩි
(4) විලාසම් (5) කූත්තු (.........)

**21.** කාමන් කූත්තු රඟ දැක්වෙන්නේ කිනම් ආගමික උත්සවයක් ආශ්‍රිතව ද?
(1) මහාශිව රාත්‍රිය (2) විජයතසම් (3) නවරාත්‍රි
(4) තිරුවිලා (5) දීපාවලී (.........)

**22.** ලුඩොවයික් නිෂ්පාදනය කළ මොලියෙර් ගේ 'ද ඉමැජිනරි ඉන්වැලිඩ්' (The Imaginary Invalid) නාට්‍යයට දුන් සිංහල නාමය කුමක් ද?
(1) කපුවා කපෝති (2) ඉබේ වෙදා (3) මඟුල් ප්‍රස්තාව
(4) මුදලාලිගේ පෙරළිය (5) යන්තම් ගැලවුණා (.........)

11197

**23.** ශ්‍රී ලංකාවේ ඉංග්‍රීසි නාට්‍ය කලාවේ පුරෝගාමී අධ්‍යක්ෂවරයා කවුද?
(1) ඊ. එෆ්. සී. ලුඩොවයික් (2) නියුමාන් ජුබාල් (3) රූඩි කොරන්ස්
(4) ලේ ස්මිත් (5) අර්නස්ට් මැකින්ටයර් (.........)

**24.** ශ්‍රී ලංකාවේ නිෂ්පාදනය කළ 'ද ලයන් කිං' (The Lion King) නාට්‍යයේ අධ්‍යක්ෂවරයා කවුද?
(1) රෙජී සිරිවර්ධන (2) ඉන්ද්‍ර ධර්මසේන (3) රිචඩ් ද සොයිසා
(4) ජෙරොම් ද සිල්වා (5) රුවන්ති ද චිකේරා (.........)

**25.** ශ්‍රී ලංකාවේ පාස්කු නාට්‍ය සම්බන්ධ නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) ගායනාවලින් පමණක් ඉදිරිපත් වේ.
(2) රඟ දැක්වෙන්නේ දූවේ හා මීගමුවේ පමණි.
(3) ජේසුතුමා කුරුසපත් කිරීම ප්‍රතිමාවක් අනුසාරයෙන් රඟ දැක්වේ.
(4) නූතන පාස්කු නාට්‍ය රූකඩ අනුසාරයෙන් රඟ දැක්වේ.
(5) පාස්කු නාට්‍ය සඳහා පිටපතක් භාවිත නො කෙරේ. (.........)

**26.** යාග භූමියේ සැරසිල්ලක් ලෙස පිල්ලු වීදියක් නිර්මාණය කරන්නේ කුමන ශාන්තිකර්මයේ ද?
(1) රටයකුම (2) මහසොහොන් සමයම (3) සූනියම් යාගය
(4) කිරිමඩුව (5) සන්නියකුම (.........)

**27.** රිද්දි යාගයේ දී මූලික ව පූජාවට පාත්‍ර වන්නෝ කවරහු ද?
(1) රට යක්කු (2) රිද්දි බිසෝවරු (3) මහාබ්‍රහ්මයා
(4) කිරිමව්වරු (5) දීපංකර බුදුහු (.........)

**28.** වස්දොස් නිවාරණය පිණිස පවත්වනු ලබන ශාන්තිකර්මය කුමක් ද?
(1) පූනාමඩුව (2) ගිනිමඩුව (3) දෙවොල් මඩුව
(4) ගම්මඩුව (5) හැල්ලුම්මඩුව (.........)

**29.** පූර්වරංගයක් හා අපරරංගයක් සහිත ගැමි නාටකය කුමක් ද?
(1) සොකරි (2) නාඩගම් (3) කෝලම්
(4) මකීඩ් (5) කාමන්කූත්තු (.........)

**30.** සොකරි ගැමි නාටකය පිළිබඳ නිවැරදි ප්‍රකාශය කුමක් ද?
(1) දිවයිනේ සෑම පළාතක ම රඟ දැක්වේ.
(2) මනා ව සැකසූ අත් පිටපතක් ඇත.
(3) චරිත බහුල ව යොදාගැනේ.
(4) දැව වෙස් මුහුණු භාවිත කෙරේ.
(5) අනුකරණය හා අනුරූපණය බහුල ව යෙදේ. (.........)

**31.** ශ්‍රී ලංකාවේ රඟ දක්වා ඇති පැරණිතම 'නාඩගම' කුමක් ද?
(1) ඉයුජින් (2) සිංහලේ (3) හරිස්චන්ද්‍ර
(4) රොලීනා (5) සුලඹාවතී (.........)

**32.** සී. දොන් බස්තියන් ගේ නාට්‍ය පමණක් අන්තර්ගත වරණය කුමක් ද?
(1) නලරාජ චරිතය, අලකේශ්වර චරිතය, ලියොනයින් හා එමලින්
(2) රොමලින්, සිංහබා, ස්වර්ණතිලකා
(3) සෝෂක, දස්කොන්, දිනතර
(4) පණ්ඩුකාභය, මානාභරණ, සිරිසඟබෝ
(5) නලරාජ චරිතය, අලිබබා, පරංගි හටන (.........)

**33.** 'නෝ' වේදිකාවක 'කගමී ඉත' යනු කුමක් ද?
(1) ප්‍රධාන වේදිකාව (2) කැටපත් කාමරය
(3) වාදක කණ්ඩායම වාඩිවන ස්ථානය (4) පසුතලයේ ඇති පයිනස් ගසක චිත්‍රය
(5) සෝපාන පේළිය (.........)

**34.** 'ජිදයිමොනෝ' නම් කබුකි නාට්‍ය ප්‍රභේදයට අදාළ කරුණක් අන්තර්ගත වරණය කුමක් ද?
(1) නැටුම් ප්‍රමුඛ නාට්‍ය (2) පහත් පෙළේ චරිත අන්තර්ගත නාට්‍ය
(3) ඉහළ පෙළේ චරිත අන්තර්ගත නාට්‍ය (4) ගේෂා චරිත අන්තර්ගත නාට්‍ය
(5) ඓතිහාසික පුවත් ඇතුළත් නාට්‍ය (.........)

[හතරවැනි පිටුව බලන්න.

**35.** අභිඥානශාකුන්තලයේ සිවුවන අංකය ආරම්භයේ එන විෂ්කම්භකයට සහභාගී වන චරිත වන්නේ
(1) අනසූයා සහ ප්‍රියංවදා ය. (2) ශිෂ්‍යයින් දෙදෙනා ය.
(3) ශිෂ්‍යයා සහ අනසූයා ය. (4) ශිෂ්‍යයා සහ ප්‍රියංවදා ය.
(5) ගෞතමී සහ කාශ්‍යප ය. (.........)

**36.** "සිඳලිය නොහෙන අඳුරක් වෙද දිනිඳු හට
මැඩලිය හැකිය ඒ නිසඳුර නිරිඳු හට"
අභිඥානශාකුන්තලයේ එන පූර්වෝක්ත පද්‍යයේ 'නිසඳුර' යනු කුමක් ද?
(1) දුර වැඩි බව (2) රජු ගේ ආචාර්යවරයා
(3) රාත්‍රි අඳුර (4) රජු ගේ සතුරෙක්
(5) චන්ද්‍රයා (.........)

**37.** මහාකවි කාලිදාස විශිෂ්ටත්වයක් ප්‍රදර්ශනය කළේ කුමන කාව්‍ය ලක්ෂණය අරබයා ද?
(1) පද ලාලිත්‍යය (2) ව්‍යංග්‍යාර්ථය
(3) අර්ථ ගෞරවය (4) උපමා
(5) වක්‍රෝක්ති (.........)

**38.** හෙන්රි ජයසේන ගේ කුවේණි නාට්‍යයේ දඩයක්කරුගේ චරිතය රඟපෑ නළුවා කවුද?
(1) විජේරත්න වරකාගොඩ (2) ෆීලික්ස් ප්‍රේමවර්ධන
(3) හෙන්රි ජයසේන (4) සැන්ට්න් ගුණවර්ධන
(5) විජය නන්දසිරි (.........)

**39.** "ලෝක ඉතිහාසයේ මිනිසුන්ගේ ගල් මුගුරු පාර කාල මැරුණු මුල් ම පව්කාරිය තමා කුවේණි." කුවේණි නාට්‍යයේ මෙසේ පවසන්නේ කවුද?
(1) I නීතිඥයා (2) දිසාලා
(3) II නීතිඥයා (4) ජීවහත්ත
(5) දඩයක්කරු (.........)

**40.** කුවේණි කතා පුවත අන්තර්ගත ඓතිහාසික **නොවන** මූලාශ්‍රය කුමක් ද?
(1) මහාවංසය (2) රාජාවලිය
(3) දීපවංසය (4) ජාතක පොත
(5) වංසත්ථප්පකාසිනිය (.........)

* *

AL/2021(2022)/57/S-II





**Department of Examinations, Sri Lanka**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2021 (2022)
General Certificate of Education (Adv. Level) Examination, 2021 (2022)

**නාට්‍ය හා රංග කලාව - සිංහල II**
நாடகமும் அரங்கியலும் - சிங்களம் II
Drama and Theatre - Sinhala II

**57 S II**

**පැය තුනයි**
*மூன்று மணித்தியாலம்*
*Three hours*

**අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි**
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

**විභාග අංකය :** ....................................

| I කොටස | |
|---|---|
| මුළු ලකුණු | 40 |

**උපදෙස්:**

※ I කොටස – **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** සපයා, II කොටසේ පිළිතුරු පත්‍රයට අමුණා භාර දෙන්න.

※ II කොටස – A හා B කොටස්වලින් ප්‍රශ්න **දෙක** බැගින් තෝරාගෙන, ප්‍රශ්න **හතරකට** පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස

※ එක් එක් ප්‍රශ්නයට අදාළ නිවැරදි පිළිතුර තෝරා, එහි **අංකය** ඉදිරියෙන් ඇති **වරහන තුළ** ලියන්න.

**1.** ඇරිස්ටෝටල්ගේ 'කාව්‍යශාස්ත්‍රයේ' සඳහන් කවියකු සතු අනුකරණ විධි තුන කවරේ ද?
(1) වස්තුව, පෙළ, සංවාද
(2) ගැටුම, කූටප්‍රාප්තිය, අවප්‍රාප්තිය
(3) මාධ්‍ය, වස්තු, විධි
(4) රේඛාව, රිද්මය, තානය
(5) ලය, මාධූර්යය, නාදය (.........)

**2.** ශෝකාත්මක නාට්‍යයක ඛේදනීය වීරයා පිළිබඳ නිවැරදි ප්‍රකාශය කුමක් ද?
(1) අතිශය යහපත් විය යුතු ය.
(2) සංගත චරිතයක් විය යුතු ය.
(3) අසාමාන්‍ය විය යුතු ය.
(4) දුර්වලකම් නොතිබිය යුතු ය.
(5) භාග්‍යසම්පන්න විය යුතු ය. (.........)

**3.** ඊස්කිලස්ගේ ඔරෙස්ටෙයියා ත්‍රෛරූපකයට අයත් නාට්‍ය තුන වන්නේ
(1) ප්‍රොමිතියස් බන්ධය, යදින්නෝ, ඛොයිෆොරොයි ය.
(2) තීබයට එරෙහිව සත් දෙනෙක්, ඛොයිෆොරොයි, යුමෙනයිඩිස් ය.
(3) පාරසිකයෝ, යදින්නෝ, යුමෙනයිඩිස් ය.
(4) අගමෙම්නොන්, ඛොයිෆොරොයි, යුමෙනයිඩිස් ය.
(5) යුමෙනයිඩිස්, ප්‍රොමිතියස් බන්ධය, අගමෙම්නොන් ය. (.........)

**4.** ක්‍රි.පූ. 423 දියොනීසියානු නාට්‍ය උළෙලේ ප්‍රථම ස්ථානය දිනාගත් ඇරිස්ටොෆනීස් ගේ නාට්‍යය කුමක් ද?
(1) කුරුල්ලෝ
(2) ලයිසිස්ට්‍රාටා
(3) මණ්ඩූකයෝ
(4) සාමය
(5) වලාකුළු (.........)

**5.** ග්‍රීක ශෝකාත්ම නාට්‍ය චරිතවල චිත්තාභ්‍යන්තරය හෙළි කිරීම සඳහා භාවිත කළේ කුමන නාට්‍ය උපක්‍රමයක් ද?
(1) ගායන වෘන්දය
(2) ආත්මභාෂණ
(3) ඒකල භාෂණ
(4) පණිවුඩකරු
(5) සංකේත (.........)

[දෙවැනි පිටුව බලන්න.

**6.** මධ්‍යකාලීන යුරෝපයේ දිව්‍ය පූජාව ආශ්‍රිත ව ප්‍රභවය වූයේ මින් කවර නාට්‍යමය අවස්ථාව හෝ නාට්‍යය ද?
(1) මානව වර්ගයා (2) මිස්ටරි
(3) මරියාවරුන් තිදෙනාගේ කතාව (4) රජතුන් කට්ටුව
(5) අවසාන රාත්‍රි භෝජන සංග්‍රහය (.........)

**7.** ජේසුස් වහන්සේ ගේ ජීවිතය අළලා නිර්මාණය වූ නාට්‍ය අයත් වන්නේ මෙයින් කවරකට ද?
(1) කෝපුස් ක්‍රිස්ටි (2) මිස්ටරි (3) මිරකල්
(4) මොරැලිටි (5) එඬේර නාටක (.........)

**8.** මධ්‍යකාලීන යුරෝපයේ ශිල්ප ශ්‍රේණි අතුරෙන් බේකරිකරුවන්ට පැවරුණේ ජේසුස් වහන්සේ ගේ ජීවිතයේ කුමන සිදුවීම රංගගත කිරීමට ද?
(1) ස්වර්ගාරෝහය (2) ආදම්-ඒව කතාව (3) කායින්-ආබෙල් කතාව
(4) අවසන් රාත්‍රි භෝජනය (5) ජුදාස්ගේ පාවාදීම (.........)

**9.** එළිසබෙතීන නාට්‍යකරු ක්‍රිස්ටෝෆර් මාලෝ ගේ විශිෂ්ටතම කෘතිය කුමක් ද?
(1) මෝල්ටාවේ යුදෙව්වා (2) දෙවැනි එඩ්වඩ් (3) ටැම්බලේන්
(4) ටිමොන් ඔෆ් ඇතැන්ස් (5) ඩොක්ටර් ෆවුස්ටස් (.........)

**10.** පහත දැක්වෙන නාට්‍ය අතුරෙන් විලියම් ශේක්ස්පියර් විසින් රචිත ඓතිහාසික නාට්‍යය කුමක් ද?
(1) III රිචඩ් (2) ලියර් රජ (3) මැක්බත්
(4) කොරියොලේනස් (5) සිම්බලින් (.........)

**11.** ග්‍රීක නාට්‍ය සම්මතය අනුව වේදිකාව මත රඟ දැක්විය **නොහැක්කේ** ඊඩිපස් නාට්‍යයේ කුමන අවස්ථාව ද?
(1) යොකැස්ටා ඊඩිපස්ට දොස්නගා පිටව යාම
(2) දූතයා යොකැස්ටා ගේ මරණය සිදු වූ ආකාරය අභිනයෙන් දැක්වීම
(3) යොකැස්ටා මියගොස් සිටිනු ඊඩිපස් දකින අවස්ථාව
(4) යොකැස්ටා ගේ දේහය එක්කුක්ලීමාව මත තිබීම
(5) ඇස් අන්ධ කරගෙන සිටින ඊඩිපස් වේදිකාව මතට පැමිණීම (.........)

**12.** ඊඩිපස් නාට්‍යයේ ගායන වෘන්දය ඊඩිපස්ට ලායස් ගේ ඝාතකයා සොයාගැනීම පිණිස දෙන උපදේශය කුමක් ද?
(1) දියොනීසස් දෙවියන් ගෙන් විමසන ලෙස යි.
(2) ටෙරේසියාස් අනාගතවක්තෘ ගෙන්වා විමසන ලෙස යි.
(3) සෙවීමෙන් කිසිදු පලක් සිදු නොවන බව යි.
(4) ඝාතකයා කවුදැ යි ෆීබස් ඇපොල්ලෝ ගෙන් විමසන ලෙස යි.
(5) යොකැස්ටා දේවිය ගෙන් පමණක් විමසන ලෙස යි. (.........)

**13.** ඊඩිපස් නාට්‍යයේ ලායස් රජු ගේ ඝාතනය ගැන විමර්ශනයක් නොකිරීමට හේතුව ලෙස ක්‍රියොන් ඉදිරිපත් කළේ කුමන කාරණයක් ද?
(1) රට සාමකාමී ව පැවතීම යි.
(2) ස්ෆින්ක්ස් උවදුරින් බාධා එල්ල වීම යි.
(3) ඝාතනය දුටු එඬේරා තීබයෙන් පලා යෑම යි.
(4) යොකැස්ටා එසේ නොකරන ලෙස ඉල්ලා සිටීම යි.
(5) සොරමුළක් විසින් ඝාතනය සිදු කළ බව පිළිගැනීම යි. (.........)

- ප්‍රශ්න අංක **14** සිට **19** දක්වා ප්‍රශ්න සඳහා කරුණු/සංකල්ප/නාම පහක් බැගින් සපයා ඇත. එම කට්ටලයේ ඇති **නොගැළපෙන** පදය තෝරා එහි අංකය ඉදිරියේ ඇති වරහන තුළ ලියන්න.

**14.** (1) ඔන්කොස් (2) පැරඩොස් (3) ඔර්කීස්ට්‍රා
(4) ස්කීනී (5) පැරාස්කීනියා (.........)

**15.** (1) ප්‍රත්‍යාවර්තනය (2) ආකුලීකරණය (3) ප්‍රත්‍යභිඥානය
(4) තදාත්ම්‍ය විඝටනය (5) අනාවරණය (.........)

**16.** (1) සමාජයේ කුලුණු (2) ජන හතුරා (3) වෙරි වත්ත
(4) තරුණ සංගමය (5) කැටිලින් (.........)

**17.** (1) ස්වාභාවිකවාදී (2) යථාර්ථවාදී (3) ප්‍රකාශනවාදී
(4) අසම්මත (5) පිස්කැටර් (.........)

**18.** (1) අයනෙස්කෝ (2) මැක්සිම් ගෝර්කි (3) හැරල්ඩ් පින්ටර්
(4) එඩ්වඩ් ඕල්බි (5) ඇල්බෙයා කැමූ (.........)

**19.** (1) ස්ටැනිස්ලව්ස්කි (2) බ්‍රෙෂ්ට් (3) ඇන්ටන් චෙකොෆ්
(4) පිස්කැටර් (5) මෙයර්හෝල්ඩ් (.........)

**20.** ගිරාල්ඩෝ සින්තියෝ ගේ 'හෙකටම්ති' කතා එකතුවෙන් උපුටා ගත් කතාවක් සහිත ශේක්ස්පියර් ගේ නාට්‍යය කුමක් ද?
(1) රෝමියෝ ජුලියට් (2) මැක්බත් (3) කුණාටුව
(4) වැනිසියේ වෙළෙන්දා (5) ඔතෙලෝ (.........)

**21.** ජූලියස් සීසර් නාට්‍යයේ සෙනෙට් සභාවේ දී සිය සහෝදරයා නිදහස් කරගැනීම සඳහා සීසර්ට පෙත්සමක් බාර දෙන්නේ කවුද?
(1) ආටිමිඩෝරස් (2) කස්කා (3) මෙටලස් සිම්බර්
(4) ලිගේරියස් (5) ඩෙසියස් බ්‍රූටස් (.........)

**22.** බ්‍රූටස් හා කැසියස් අතර ගැටුමක් හට ගන්නේ කුමන කරුණක් අරබයා ද?
(1) සීසර් ඝාතනය
(2) රෝමයෙන් පලායාමට සිදුවීම
(3) සෙබළුන් බෙදාගැනීම
(4) සටනට මුදල් රැස්කිරීම
(5) කුමන්ත්‍රණය සැලසුම් කිරීම (.........)

**23.** "නෑ! සීසර්ට එහෙම ලෙඩක් නෑ, ඒක තියෙන්නේ ඔබට යි, මට යි. මේ අවංක කස්කට යි විතර යි."
මේ ප්‍රකාශයේ ව්‍යංග්‍යාර්ථය කුමක් ද?
(1) ඔවුන් තිදෙනා ම අපස්මාරයෙන් පෙළෙන බව
(2) ඔවුන්ගේ යටහත් පහත් බව
(3) සීසර් ව්‍යාජ රෝගයක් පෙන්වූ බව
(4) තිදෙනා ම ඉතා අවංක බව
(5) සීසර් නීරෝගී බව (.........)

**24.** ඇන්ටනි හා ඔක්ටේවියස් සමග ත්‍රිත්ව පුද්ගල පාලන අධිකාරියක් ගොඩනගාගෙන සිටි සෙසු පුද්ගලයා කවරෙක් ද?
(1) ක්‍රසස් (2) පොම්පේ (3) ලෙපිඩස්
(4) බ්‍රූටස් (5) ලිගේරියස් (.........)

**25.** ඔක්ටේවියස්ගේ චරිතය ජූලියස් සීසර් නාට්‍යයට එක් වන්නේ කුමන අංකයේ දී ද?
(1) 1 අංකය (2) 2 අංකය (3) 3 අංකය
(4) 4 අංකය (5) 5 අංකය (.........)

**26.** රූකඩ ගෙදර නාට්‍යයේ ටෝවල්ඩ් ක්‍රිස්ටිනාට බැංකුවේ තනතුරක් දෙන්නේ කුමක් නිසා ද?
(1) කෘග්ස්ටාඩ් ඉවත් කිරීම අරමුණු කරගෙන ය.
(2) ඇය නුවුරා ගේ (නෝරා ගේ) මිතුරියක වීම නිසා ය.
(3) ක්‍රිස්ටිනාට සේවා පළපුරුද්දක් තිබීම ය.
(4) ක්‍රිස්ටිනා හා කෘග්ස්ටාඩ් එකෙ'කා හඳුනන බැවිනි.
(5) නුවුරා ගේ සිත රිදවීමට අකමැති නිසා ය. (.........)

**27.** රූකඩ ගෙදර නාට්‍යයේ නුවුරා පොරොන්දු පත්‍රයට පියා ගේ අත්සන වෙනුවට සිය අත්සන යොදන්නේ මන්ද?
(1) වංචා සහගත සිතිනි.
(2) ටෝවල්ඩ්ට එය කළ නොහැකි නිසා ය.
(3) කෘග්ස්ටාඩ් ගේ බල කිරීම මත ය.
(4) ක්‍රිස්ටිනා උදව් කරන බව දන්නා හෙයිනි.
(5) රෝගී පියාට අත්සන් කරන ලෙස කීමට නොහැකි බැවිනි. (.........)

**28.** රූකඩ ගෙදර නාට්‍යයේ සංකේත අතුරෙන් නූවුරා ගේ වියවුල් මානසිකත්වය පිළිබිඹු කරන ප්‍රබලතම සංකේතය කුමක් ද?
(1) ගිනි උදුන (2) නත්තල් ගස (3) තරන්තලා නැටුම
(4) සෙල්ලම් ඇඳුම (5) මැකරූන් කෑම (.........)

**29.** රූකඩ ගෙදර නාට්‍යයේ පොරොන්දු පත්‍රය ලියුම් පෙට්ටියට දැමූ බව දැනගත් ලින්ඩෙ නූවුරාට කියන්නේ කුමක් ද?
(1) කෙසේ හෝ ලියුම් පෙට්ටිය විවෘත කොට එය ගන්නා ලෙස යි.
(2) එසේ සිදුවීම හෙල්මර්ට හා නූවුරාට යහපතක් බව යි.
(3) තමා මෙය කෙසේ හෝ බේරාදෙන බව යි.
(4) කලබලයට පත් නොවී ඉන්නා ලෙස යි.
(5) නූවුරා වංචාවක් සිදුකොට ඇති බව යි. (.........)

**30.** රූකඩ ගෙදර නාට්‍යයේ එන 'ඩොමිනෝව' යනු කුමක් ද?
(1) විලාසිතා සාදවලට අඳින පිරිමි ඇඳුමකි.
(2) පිරිමින් අඳින ගමන් ඇඳුමකි.
(3) කාන්තා උතුරු සළුවකි.
(4) ස්ත්‍රී පුරුෂ දෙපක්ෂය ම අඳින සීත කබායකි.
(5) සාදවලට අඳින විසිතුරු කාන්තා උඩු කබායකි. (.........)

**31.** ඊඩිපස් නාට්‍යයේ ටෙරේසියස් පවසන පරිදි ඊඩිපස්ට දඬුවමක් පැනවිය හැකි එක ම පුද්ගලයා කවරෙක් ද?
(1) ක්‍රියොන් (2) දියොනීසස් (3) ඇපොල්ලෝ
(4) සියස් (5) ආටිමිස් (.........)

**32.** ඊඩිපස් නාට්‍යයේ සිවුවැනි අංකයේ රජමැඳුරේ සේවකයා ඊඩිපස් හඳුනාගන්නේ කෙසේ ද?
(1) ඇපොල්ලෝ ගේ මග පෙන්වීමෙන්
(2) ලායස් මිය යාමට පෙර පැවසූ බසින්
(3) දේව අනාවැකිය මගින්
(4) ටෙරේසියස්ගේ ප්‍රකාශයෙන්
(5) දෙපාවල පැවැති විකෘතියෙන් (.........)

**33.** ඊඩිපස්ට මූලික වශයෙන් ගැටීමට සිදුවන්නේ කවරකු හෝ කවර බලවේගයක් සමග ද?
(1) ගොපල්ලා (2) ලායස් (3) දෛවය
(4) ටෙරේසියස් (5) ක්‍රෙයොන් (.........)

**34.** චරිතය හා භූමිකාව පිළිබඳ නිවැරදි ප්‍රකාශය කුමක් ද?
(1) භූමිකාව යනු චරිතය හඳුන්වන වෙනත් නමකි.
(2) චරිතයකට භූමිකා කිහිපයක් තිබිය හැක.
(3) භූමිකා හා චරිත අතර ගැටුම් පැවතිය නොහැක.
(4) චරිතයකට තිබිය හැක්කේ එක් භූමිකාවකි.
(5) නාට්‍ය විකාශයේ දී චරිතය භූමිකාවට වඩා වැදගත් ය. (.........)

**35.** නාට්‍ය නිෂ්පාදනයක් සඳහා අත්‍යවශ්‍ය **නොවන්නේ**
(1) නළු-නිළියෝ ය. (2) අධ්‍යක්ෂ ය. (3) ගද්‍ය හෝ පද්‍ය සංවාද ය.
(4) සංගීතය ය. (5) වේෂභූෂණ හා අංගරචනා ය. (.........)

**36.** අතිනාටකය සම්බන්ධ නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) අවසානය ඛේදජනක වේ.
(2) අවසානය සුඛජනක වේ.
(3) භාවප්‍රකෝපකාරී සිදුවීම් නැත.
(4) චරිත සංඛ්‍යාව සීමිත ය.
(5) ඉබ්සන් අතිනාට්‍ය නිර්මාතෘවරයෙකි. (.........)

**37.** "An Actor Prepares" නම් කෘතිය
(1) මෙයර්හෝල්ඩ් ගේ ය. (2) ඇන්ටන් චෙකොෆ් ගේ ය.
(3) ලී ස්ට්‍රැස්බර්ග් ගේ ය. (4) බර්ටෝල්ට් බ්‍රෙෂ්ට් ගේ ය.
(5) ස්ටැනිස්ලව්ස්කි ගේ ය. (.........)

**38.** අසංගත (Absurd) නාට්‍ය කලාව සම්බන්ධ නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) ඇල්බෙයා කැමුගේ "Myth of Sisyphus" අසංගත නාට්‍යයකි.
(2) අසංගත නාට්‍යය යනු අතිනාට්‍ය කලාව ඉදිරියට ගෙනයාමකි.
(3) ශ්‍රී ලංකාවේ අසංගත නාට්‍ය නිෂ්පාදනය වූයේ නැත.
(4) අසංගත නාට්‍ය බිහිවීමට හේතු තවමත් හඳුනාගෙන නැත.
(5) ආඛ්‍යාන රංග රීතිය හා බෙහෙවින් සමාන වේ. (.........)

**39.** නාට්‍ය විචාරයට අදාළ නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) විචාර සිද්ධාන්ත දැන සිටීම විචාරකයකුට අවශ්‍ය නැත.
(2) නාට්‍ය විචාරය යනු රස වින්දනයට යෙදෙන වෙනත් නමකි.
(3) විචාරකයා තුළ තුලනාත්මක දෘෂ්ටියක් තිබිය යුතු ය.
(4) පෙරදිගට අදාළ පැරණි විචාර සාහිත්‍යයක් නැත.
(5) භරතමුනි ගේ නාට්‍යශාස්ත්‍රය විචාර කෘතියකි. (.........)

**40.** ළමා නාට්‍ය කලාවට අදාළ නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) වැඩිහිටියන් ළමා නාට්‍ය රචනා නොකළ යුතු ය.
(2) වැඩිහිටි චරිත ද ළමුන් විසින් ම රඟපෑ යුතු ය.
(3) සෑම විට ම සුඛජනක ලෙස අවසන් නොවිය යුතු ය.
(4) ළමා නාට්‍ය රචකයා ළමයා ගේ දෘෂ්ටි කෝණයෙන් ලෝකය දැකිය යුතු ය.
(5) ළමා නාට්‍ය කලාව පිළිබඳ පරිචය පමණක් ප්‍රමාණවත් ය. (.........)

* *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2021 (2022)
General Certificate of Education (Adv. Level) Examination, 2021 (2022)

**නාට්‍ය හා රංග කලාව - සිංහල II**
நாடகமும் அரங்கியலும் - சிங்களம் II
Drama and Theatre - Sinhala II

**57 S II**

## II කොටස

**උපදෙස්:**

※ **A** හා **B** කොටස්වලින් ප්‍රශ්න **දෙක** බැගින් තෝරාගෙන, ප්‍රශ්න **හතරකට** පමණක් පිළිතුරු සපයන්න.

### A - කොටස

**1.** (i) ජූලියස් සීසර් නාට්‍යයේ නාට්‍යමය ක්‍රියාවට රෝමයේ මහජනයා සම්බන්ධවන අවස්ථා **තුනක්** සඳහන් කරන්න. (ලකුණු 03 යි.)

(ii) ඉන් **එක්** අවස්ථාවක් නාට්‍යයේ විකාසයට දක්වන වැදගත්කම ගැන විස්තර කරන්න. (ලකුණු 06 යි.)

(iii) ජූලියස් සීසර් නාට්‍යය පදනම් කොටගෙන රටක මහජනයා හා පාලක පන්තිය අතර සම්බන්ධයේ ස්වභාවය පිළිබඳ ඔබේ අදහස් දක්වන්න. (ලකුණු 06 යි.)

**2.** (i) ඊඩිපස් චරිතයේ දුර්වල ලක්ෂණ **දෙකක්** පෙන්වා දෙන්න. (ලකුණු 04 යි.)

(ii) ඊඩිපස් නාට්‍යයේ සාර්ථකත්වයට එකී ලක්ෂණ හේතුවන ආකාරය විමසන්න. (ලකුණු 05 යි.)

(iii) ඊඩිපස් චරිතයේ නායක ලක්ෂණ ගැන ඔබේ අදහස් දක්වන්න. (ලකුණු 06 යි.)

**3.** (i) රූකඩ ගෙදර පළමුවැනි අංකය ආරම්භයේ ප්‍රේක්ෂකයාට දෘශ්‍යමාන වන පසුතලය ගැන කෙටි විස්තරයක් කරන්න. (ලකුණු 04 යි.)

(ii) නාට්‍ය විකාසනයේ දී එම පසුතලය හා නාට්‍යෝපකරණ උපයෝගී වන ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 05 යි.)

(iii) නූවුරා ගේ මානසික සංට්ටනය පිළිබිඹු කිරීමට ඉබ්සන් උපයෝගී කරගන්නා නාට්‍යෝපක්‍රම විමර්ශනය කරන්න. (ලකුණු 06 යි.)

### B කොටස

**4.** (i) ග්‍රීක නාට්‍ය රචක යුරිපිඩීස් ගේ නාට්‍ය **තුනක්** නම් කරන්න. (ලකුණු 03 යි.)

(ii) ඔහුගේ නිර්මාණ පිළිබඳ විස්තරයක් කරන්න. (ලකුණු 06 යි.)

(iii) ශෝකාත්මක නාට්‍යකරුවන් අතර යුරිපිඩීස් සුවිශේෂ වන්නේ කෙසේදැයි සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි.)

**5.** (i) එළිසබෙතීන යුගයේ පැවැති රංගශාලා **හතරක** නම් ලියන්න. (ලකුණු 02 යි.)

(ii) එළිසබෙතීන රඟහලක සැලැස්ම පැහැදිලි කරන්න. (ලකුණු 06 යි.)

(iii) එළිසබෙතීන යුගයේ නාට්‍යයකින් නිදසුන් දක්වමින් නාට්‍යයක් රඟ දැක්වීමේ දී රඟහල භාවිත කළ අයුරු විස්තර කරන්න. (ලකුණු 07 යි.)

**6.** (i) නාට්‍ය කලාවට අදාළ ආනුෂංගික කලා **හයක්** හඳුන්වා දෙන්න. (ලකුණු 03 යි.)

(ii) ඉන් **එකක්** නාට්‍යෝචිත ව භාවිත කරන අයුරු පෙන්වා දෙන්න. (ලකුණු 06 යි.)

(iii) ආනුෂංගික කලා අයත් වන්නේ කුමන අභිනයට දැ යි සඳහන් කොට විස්තර කරන්න. (ලකුණු 06 යි.)

※ ※ ※